OL/2017/84/S-I, II (NEW)



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

84 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

| | | |
|---|---|---|
| ශිල්ප කලා | I, II | පැය තුනයි |
| நுண்கலை | I, II | மூன்று மணித்தியாலம் |
| Arts and Crafts | I, II | Three hours |

## ශිල්ප කලා I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන** පිළිතුර තෝරන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ශ්‍රී ලාංකේය අනන්‍යතාව විදහා දැක්වෙන ජනකලාවක් වන වෙස් මුහුණු නිර්මාණයට ප්‍රසිද්ධියක් උසුලන ප්‍රදේශ වන්නේ,
(1) මහනුවර හා හුරීකඩුව ය. (2) මාතර හා අම්බලන්ගොඩ ය.
(3) මාතලේ හා හපුවිද ය. (4) කළුතර හා දෙදියවල ය.

**2.** කාර්මික ඇඳීමේ දී භාවිත කරන කඩදාසිය ජාත්‍යන්තර ප්‍රමිතියට අනුව සකස් වී ඇත. මෙම සකස් කිරීමට අනුව A3 කඩදාසියක සම්මත ප්‍රමාණය කුමක් ද?
(1) 297 mm × 420 mm (2) 841 mm × 1189 mm
(3) 420 mm × 594 mm (4) 210 mm × 297 mm

**3.** කාර්මික ඇඳීමේ දී සැඟි දාර දැක්වීම සඳහා භාවිත කරනු ලබන රේඛා වර්ගය වන්නේ,
(1) ඝන අඛණ්ඩ රේඛා ය. (2) සිහින් අඛණ්ඩ රේඛා ය.
(3) කඩ රේඛා ය. (4) සිහින් දාම රේඛා ය.

**4.** රූපයේ දක්වා ඇති පරිදි *ABC* කෝණය ජ්‍යාමිතික නිර්මාණ මගින් සමච්ඡේදනය කිරීමට භාවිත කළ යුතු උපකරණ වන්නේ,




(1) කෝදුව සහ කෝණමානය ය.
(2) කෝදුව සහ බෙදුම් කටුව ය.
(3) කෝදුව සහ විහිත චතුරස්‍රය ය.
(4) කෝදුව සහ කවකටුව ය.

**5.** දරුවන් සඳහා සැකසෙන සැහැල්ලු සෙල්ලම් බඩු අතර එකක් වන බෝලය මැසීමට උපයෝගී කරගනු ලබන ජ්‍යාමිතික හැඩතල විශේෂය කුමක් ද?


(1)


(2)


(3)


(4)

**6.** රූපයේ දැක්වෙන්නේ කෝණ හතරක් නිර්මාණය වී ඇති ආකාරයයි. මෙහි 1, 2, 3, 4 ලෙස අංක කර ඇති කෝණ අනුපිළිවෙළින් දක්වා ඇති පිළිතුර තෝරන්න.
(1) සෘජුකෝණය, සුළු කෝණය, සරල කෝණය, මහා කෝණය
(2) සුළු කෝණය, සෘජු කෝණය, මහා කෝණය, සරල කෝණය
(3) සුළු කෝණය, මහා කෝණය, සෘජු කෝණය, සරල කෝණය
(4) සරල කෝණය, මහා කෝණය, සුළු කෝණය, සෘජු කෝණය




[දෙවැනි පිටුව බලන්න.

**7.** මෙහි දැක්වෙන රූපයේ සම්මුඛ පාද සමාන්තර වේ. සම්මුඛ කෝණ සමාන වේ. විකර්ණ දිගින් අසමාන වන අතර ඒවා එකිනෙක සමච්ඡේදනය වේ. මෙය හඳුන්වන්නේ,

(1) රොම්බසය ලෙස ය.
(2) ත්‍රපීසියම ලෙස ය.
(3) රොම්බාභය ලෙස ය.
(4) ආයත චතුරස්‍රය ලෙස ය.




**8.** රූපයේ දැක්වෙන්නේ වෘත්තයක් සමාන කොටස් හතරකට බෙදා ඇති ආකාරයයි. 1, 2, 3, 4 මගින් දැක්වෙන වෘත්ත කොටස් හඳුන්වන්නේ,

(1) කුඩා වෘත්ත ඛණ්ඩ ලෙස ය.
(2) මහා වෘත්ත ඛණ්ඩ ලෙස ය.
(3) වෘත්ත ජ්‍යායන් ලෙස ය.
(4) වෘත්ත පාද ලෙස ය.




**9.** රූපයේ දැක්වෙන ඉලිප්සයේ $A, B$ හා $C$ අක්ෂරවලින් පිළිවෙළින් නම් කර ඇත්තේ,

(1) මහා අක්ෂය, නාභිය හා සුළු අක්ෂයයි.
(2) සුළු අක්ෂය, මහා අක්ෂය හා නාභියයි.
(3) සුළු අක්ෂය, නාභිය හා මහා අක්ෂයයි.
(4) නාභිය, මහා අක්ෂය, හා සුළු අක්ෂයයි.




**10.** පහත දැක්වෙන ජ්‍යාමිතික නිර්මාණයේ දැක්වෙන්නේ,

(1) සරල රේඛාවකට ඍජුකෝණයක් නිර්මාණය කිරීම ය.
(2) $AB$ සරල රේඛාවේ පිහිටි $A$ ලක්ෂ්‍යයට ලම්බකයක් නිර්මාණය කිරීම ය.
(3) කෝණ සමච්ඡේදනය කිරීමකි.
(4) සරල කෝණයක් සමාන කොටස් දෙකකට බෙදීම ය.




**11.** පිළි අලංකරණයේ දී සායම් පෙවීම, ආලේපනය, මුද්‍රණය වැනි ක්‍රමවේද භාවිත කෙරේ. මේ අතුරෙන් සායම් පෙවීම යනුවෙන් හඳුන්වනු ලබන්නේ,

(1) තෝරාගත් ප්‍රදේශයක බාහිර උපකරණයක් මගින් සායම් ගැල්වීමයි.
(2) මුළු පෙහෙකම් ද්‍රව්‍ය පුරා ම වර්ණ පැතිරී යාමට සැලැස්වීමයි.
(3) පින්සලක ආධාරයෙන් රෙද්ද මත සායම් ගැල්වීමයි.
(4) බාහිර උපකරණයක ආධාරයෙන් රෙද්ද මත සායම් සහිත මුද්‍රා තැබීමයි.

**12.** සායම්කරණයේ දී මූලික එක් වර්ණ ප්‍රභේදයකට සුදු හෝ කළු පැහැය එක් කිරීමෙන් සකස් කරනු ලබන වර්ණ ප්‍රභේද හඳුන්වනු ලබන්නේ,

(1) මොනොක්‍රෝම් වර්ණ ලෙස ය.
(2) ද්විතීයික වර්ණ ලෙස ය.
(3) තෘතීයික වර්ණ ලෙස ය.
(4) චතුර් වර්ණ ලෙස ය.

**13.** මූලික වර්ණ අනුසාරයෙන් වර්ණ සකස් කර ගනිමින් රෙදි පින්තාරු කෙරේ. මූලික වර්ණ ලෙස සැලකෙන්නේ,

(1) කළු, සුදු සහ නිල් ය.
(2) රතු, සුදු සහ කළු ය.
(3) නිල්, කහ සහ රතු ය.
(4) රෝස, සුදු සහ නිල් ය.

**14.** පින්සල් හඳුනා ගැනීම සඳහා අංකනය කර ඇත. එසේ අංකනය කිරීමට පදනම වන්නේ,

(1) පින්සල් සකස් කර ඇති හැඩය ය.
(2) පින්සලෙන් කෙරෙන කාර්යය ය.
(3) යොදා ඇති කෙඳි වර්ගය ය.
(4) යොදන ලද කෙඳි ප්‍රමාණය ය.

[තුන්වැනි පිටුව බලන්න.

6042

**15.** පිළි අලංකරණයේ දී භාවිතයට ගනු ලබන නිෂ්පාදිත රෙදිවල ස්වාභාවිකව හා බාහිරව එක් වූ අපද්‍රව්‍ය ඉවත් කිරීමේ ක්‍රියාවලියේ අවස්ථා කිහිපයක් පහත දැක්වේ.

A - කැඳහරණය. B - මලහරණය. C - විරංජනය. D - වාෂ්පීකරණය.

මේ අතුරෙන් පෙර පිරියම්කරණයට අදාළ මූලික අවස්ථා වන්නේ,

(1) A, B සහ C ය. (2) A, B සහ D ය.
(3) A, C සහ D ය. (4) B, C සහ D ය.

**16.** සරල පින්තාරු ක්‍රමයක් වන නූල් මගින් මුද්‍රා තැබීමේ පියවර පහත දැක්වේ.

A - රෙදි මුද්‍රණ සායම් පැතලි බඳුනකට දමා ගැනීම
B - නූල් කොටස් ඇඟිලි තුඩු ආධාරයෙන් සායම් බඳුනේ විසුරුවා හැරීම
C - කපු රෙදි කැබැල්ල මුද්‍රණතලයේ රැලි නොවැටෙන සේ අතුරා ඩ්‍රෝවින් ඇණ ගැසීම
D - වර්ණ සහිත නූල් මුද්‍රණ තලයේ රටා ලැබෙන සේ යෙදීම
E - මද පවනේ වියළෙන්නට තැබීම

එම පියවර අනුපිළිවෙළින් දැක්වෙන වරණය තෝරන්න.

(1) A, B, C, D සහ E (2) B, A, D, C සහ E
(3) C, A, B, D සහ E (4) C, B, A, D සහ E

**17.** අච්චු මුද්‍රණ ක්‍රමයේ දී ශාකමය කොටසක හරස්කඩ කැපුමක් ලෙස භාවිත කර ඇති, රූපයේ දැක්වෙන මෝස්තරය සඳහා යොදාගෙන ඇත්තේ,

(1) කෙසෙල් පිත්තක කොටසකි.
(2) අර්තාපල් අලයක කොටසකි.
(3) බණ්ඩක්කා කරලකි.
(4) හබරල පිත්තක කොටසකි.



**18.** බතික් මෝස්තර යෙදීමේ ක්‍රියාවලියේ දී සබන් මිශ්‍ර උණු දිය බඳුනක දමා තැම්බීම සිදුකරනු ලබන්නේ,

(1) වැට් ඩයි යෙදීමේ ක්‍රියාවලියේ දී ය. (2) සායම් පෙවීමේ ක්‍රියාවලියේ දී ය.
(3) මෝස්තර මැවීමේ ක්‍රියාවලියේ දී ය. (4) ඉටි ඉවත් කිරීමේ ක්‍රියාවලියේ දී ය.

**19.** සාරි අලංකරණයේ දී නෙට් රෙදි භාවිතයෙන් සාරි පල්ලුවක් අලංකාර කිරීම සඳහා භාවිත කරන ක්‍රමවේදය වන්නේ,

(1) ස්ටෙන්සිලයක ආධාරයෙන් සායම් ගැල්වීම මගින් අලංකාර කර ගැනීම ය.
(2) මෝස්තරයක් මත ගල් වර්ග, කෝඩ් නූල් වැනි බාහිර දෑ අලවා ගැනීම ය.
(3) පින්සල් ආධාරයෙන් වර්ණ ගල්වා විසිතුරු කර ගැනීම ය.
(4) අච්චු භාවිතයෙන් විසිතුරු රටා මුද්‍රා තබා ගැනීම ය.

**20.** මැටි භාණ්ඩ අලංකරණයේ දී වර්ණවත් කඩදාසි ඉරා අලවා ගැනීම මගින් විචිත්‍ර රටා මතු කර ගැනේ. මෙම අලංකරණ ක්‍රමය හඳුන්වනුයේ,

(1) කොලාජ් ක්‍රමය නමිනි. (2) ඩෙකොපාජ් ක්‍රමය නමිනි.
(3) පල්ප් ක්‍රමය නමිනි. (4) මාබල් ක්‍රමය නමිනි.

**21.** වියමන් රටා පද්ධතියේ සරල ම වියමන් රටා ඇතුළත් වන්නේ චාම් වියමන් පවුලට ය. පහත දැක්වෙන චාම් වියමන් රටා නිවැරදිව නම් කර ඇති වරණය කුමක් ද?

   

(1) ජටා, චාම්, දික්දාර, හරස්දාර (2) දික්දාර, ජටා, චාම්, හරස්දාර
(3) හරස්දාර, දික්දාර, චාම්, ජටා (4) චාම්, ජටා, දික්දාර, හරස්දාර

[හතරවැනි පිටුව බලන්න.

**22.** විවීම් තාක්ෂණය සංවර්ධනය වීමේ දී අත්යන්ත්‍රවලට අළුව නමැති උපාංගය එකතු විය. අළුවෙන් කෙරෙන එක් කාර්යයක් වන්නේ,
(1) තිරස් අතට යොදන නූල තදකර ගැනීම ය. (2) විවීමේ දී නිපදවෙන රෙදි කොටස ඔතා ගැනීම ය.
(3) රටාවට අනුව නූල් ඇද ගැනීම ය. (4) ලීවර සම්බන්ධ කර ගැනීම ය.

**23.** අත්යන්ත්‍රයෙන් රෙදි විවීමේ දී භාවිත කරන දික් නූල් කුරු රාක්කය, නූල් බෙත්ම සහ නූල් බෙරය යන උපකරණ කට්ටලය අවශ්‍ය වන්නේ කුමක් සඳහා ද?
(1) නූල් ඔතා ගැනීම සඳහා ය. (2) නූල් හැදය දිග්ගසා ගැනීම සඳහා ය.
(3) නූල් හැදය යන්ත්‍රගත කිරීම සඳහා ය. (4) නූල් ඒකක වෙන් වශයෙන් ගොනු කර ගැනීම සඳහා ය.

**24.** ටැබ්ලට් වියමන් ක්‍රමයෙන් ඉතා අලංකාර පටි වර්ග වියා ගැනීමට හැකි ය. ටැබ්ලට් පෙති 8ක් සඳහා නූල් ඇද ගැනීමට නූල් කීයක් අවශ්‍ය ද?
(1) 16 (2) 28 (3) 32 (4) 44

**25.** පොප්ලින්, මස්ලින්, මල්පීස්, චීත්ත යන රෙදි වර්ග විවීම සඳහා භාවිත කරන වියමන් රටාව වන්නේ,
(1) සරලහීරි වියමන් රටාව ය. (2) ජටා වියමන් රටාව ය.
(3) හීරි වියමන් රටාව ය. (4) චාම් වියමන් රටාව ය.

**26.** අත්පිස්නා හැදයක් වියා ගැනීම සඳහා අංක $^{2}/_{30^s}$ නූල් භාවිත කරන ලදී. නූල් කිලෝග්‍රෑම් 2 කට අඩංගු නූල් කැරළි සංඛ්‍යාව වන්නේ,
(1) 15 කි. (2) 30 කි. (3) 60 කි. (4) 120 කි.

**27.** සෙන්ටිමීටර එකකට නූල් 40 බැගින් යොදා අංක $^{2}/_{20^s}$ දෙපට නූල් භාවිත කර මීටර 50ක් දිග නූල් හැදයක් සූදානම් කර ඇත. එහි පළල සෙන්ටිමීටර 30ක් නම් හැදයට අවශ්‍ය නූල් පොටවල් ගණන වන්නේ,
(1) $40 \times 30 = 1200$ ය. (2) $20 \times 40 = 800$ ය.
(3) $40 \times 50 = 2000$ ය. (4) $50 \times 20 = 1000$ ය.

**28.** විවීම් තාක්ෂණයේ දී ජවනඩා යන්ත්‍රයක සරලහීරි වියමනක් විවීමට අදහස් කරන්නේ නම්, එහි පාපොලු පාගන ක්‍රමය කුමක් ද?
(1) 1, 2, 3, 4 (2) 4, 3, 2, 1 (3) 1, 4, 2, 3 (4) 1, 2, 4, 3

**29.** තුවා හැදයක් විවීමට අංක $^{2}/_{40^s}$ නූල් භාවිත කරන ලදී. තුවා විවීමට නූල් කිලෝ ග්‍රෑම් 4ක් වැය විය. එහි නූල් කැරළි කීයක් අඩංගු වී ද?
(1) $\frac{40}{4} \times 4 = 40$ (2) $\frac{40}{2} \times 2 = 40$ (3) $\frac{40}{4} \times 2 = 20$ (4) $\frac{40}{2} \times 4 = 80$

**30.** විවීම් තාක්ෂණයේ දී නූල් හැදයට හරස් නූල් යෙදීම සඳහා නූල් විවර අවශ්‍ය වේ. නූල් විවර සැකසීම සඳහා සීරු දමා ගැනීම සිදු කෙරෙන්නේ,
(1) නූල් බෙරයේ ආධාරයෙනි. (2) නූල් බෙත්මේ ආධාරයෙනි.
(3) නූල් කුරු රාක්කයේ ආධාරයෙනි. (4) එතුම් රෝදයේ ආධාරයෙනි.

**31.** මැටි හෙවත් ඇලුමිනා සිලිකේට් භාවිත කර විවිධ මැටි භාණ්ඩ නිපදවා ගැනේ. ඇලුමිනා සිලිකේට් අණුවක අන්තර්ගත සංයෝග වන්නේ,
(1) ඇලුමිනියම් ඔක්සයිඩ්, සිලිකන් ඩයොක්සයිඩ් සහ ජලයයි.
(2) පොටෑසියම්, ටයිටේනියම් සහ කැල්සියම් ය.
(3) ෆෙල්ඩ්ස්පාර්, සිලිකා සහ ඩොලමයිට් ය.
(4) ඇලුමිනියම් ඩයොක්සයිඩ්, සිලිකන් ඔක්සයිඩ් සහ මයිකා ය.

**32.** මැටි වර්ග හඳුනා ගැනීමේ දී නිර්මාණය වූ ස්ථානයේ ම තැන්පත් වන මැටි නිර්මාණ ක්‍රියාවලියට අනුගතව වර්ග කිරීමේ දී හඳුන්වන්නේ,
(1) ද්විතීයික මැටි ලෙස ය. (2) ප්‍රාථමික මැටි ලෙස ය.
(3) අගම් මැටි ලෙස ය. (4) කෙඔලනයිට් මැටි ලෙස ය.

**33.** වෙළෙඳපොළ සඳහා ප්‍රමිතිගත මැටි භාණ්ඩ සපයන නිෂ්පාදකයකු මැටිවල ඇති භෞතික ලක්ෂණ සහ රසායනික ගුණ පිළිබඳව දැන සිටිය යුතු ය. මැටිවල ඇති භෞතික ලක්ෂණ සහ රසායනික ගුණ ලෙස සැලකෙන්නේ,
(1) නම්‍යතාව, භංගුරතාව, තන්‍යතාව සහ වර්ණයයි.
(2) සුඛනම්‍යතාව, සවිවරතාව, තන්‍යතාව සහ වර්ණයයි.
(3) සුවිකාර්යතාව, සවිවරතාව, හැකිළීම සහ වර්ණයයි.
(4) ඝනත්වය, හැකිළීම, නම්‍යතාව සහ වර්ණයයි.

[පස්වැනි පිටුව බලන්න.

**34.** මැටි භාණ්ඩ නිෂ්පාදනයේ දී මැටි අංශුවක අංශුමය පරිමාව අඩු වැඩි වීම මත නිර්මාණය කරන භාණ්ඩය තීරණය කෙරේ. මේ අනුව ගුරුලේත්තු, මැටි කළ වැනි භාණ්ඩ නිපදවීමට යොදා ගත යුතු මැටි විශේෂය වන්නේ,
(1) පැහැපත් වර්ණයෙන් යුත් ප්‍රාථමික මැටි ය. (2) සුවිකාර්යතා ගුණය අධික තලප මැටි ය.
(3) හැකිළීමේ ප්‍රතිශතය අඩු පිහිටි මැටි ය. (4) සච්ඡරතා ගුණයෙන් ඉහළ ද්විතීයික මැටි ය.

**35.** මැටි භාණ්ඩ අලංකරණයේ දී සායම් ආලේප මෙන් ම විවිධ පාරිසරික ද්‍රව්‍ය භාවිත කර රටා ලබා ගැනීම ද සිදු කෙරේ. මෙහි දැක්වෙන මැටි බඳුන අලංකාර කර ඇත්තේ,
(1) ඉරටුවක ආධාරයෙන් රටා ගොඩනගා ගැනීමෙනි.
(2) ස්පොන්ජ් කැබලි ආධාර කර ගැනීමෙනි.
(3) මාබල් ක්‍රමයට ක්‍රමවත්ව යොදා ගැනීමෙනි.
(4) සායම් වත්කර කරකැවීම මගිනි.



**36.** මෙහි දැක්වෙන්නේ මැටි භාවිතයෙන් නිපදවා ඇති විදුලි පහන් ආවරණයකි. මෙහි ආලෝකය පැතිර යන්නේ සිදුරු කැටයම් හරහා ය. සිදුරු කැටයම් සිදු කරන්නේ,
(1) නිෂ්පාදන අවස්ථාවේ දී ය.
(2) හම් පදම් අවස්ථාවේ දී ය.
(3) පළමු පිළිස්සීමෙන් පසු අවස්ථාවේ දී ය.
(4) දෙවන පිළිස්සීමෙන් පසු අවස්ථාවේ දී ය.



**37.** රූපයේ දැක්වෙන හැඩය සහිත සෙරමික් භාණ්ඩ නිර්මාණය කිරීමට භාවිත කළ හැකි ක්‍රමශිල්ප වන්නේ,
(1) අච්චු ක්‍රමය සහ දරණු ක්‍රමය ය.
(2) මැටි තහඩු ක්‍රමය සහ සකපෝරුවේ ඉදිකිරීම ය.
(3) මැටි තහඩු ක්‍රමය සහ අච්චු ක්‍රමය ය.
(4) දරණු ක්‍රමය සහ සකපෝරුවේ ඉදිකිරීම ය.



**38.** නිෂ්පාදිත සෑම මැටි භාණ්ඩයක් ම පෝරණුවක බහා පළමු පිළිස්සීම හෙවත් මූලික පිළිස්සීමකට ලක් කළ යුතු ය. මෙම මූලික පිළිස්සීමට ප්‍රමාණවත් උෂ්ණත්ව පරාස මොනවා ද?
(1) 800 °C - 850 °C (2) 850 °C - 900 °C (3) 950 °C - 1200 °C (4) 1200 °C - 1250 °C

**39.** විවිධ අලංකරණ ක්‍රම භාවිතයෙන් මැටි භාණ්ඩ අලංකාර කර ගැනේ. මෙසේ අලංකාර කරගත් මැටි භාණ්ඩය සුරක්ෂිත කර ගැනීම සඳහා කළ යුතු වන්නේ,
(1) පෙර පිරියම් ක්‍රමය යෙදීම ය. (2) අව්වේ තබා වියළා ගැනීම ය.
(3) අව්වැසිවලින් ආරක්ෂා කර ගැනීම ය. (4) පසු පිරියම් ක්‍රමයක් යෙදීම ය.

**40.** පෝරණුවක් යනු ඇඩි තාපයක් රඳවා තබා ගත හැකි ආවරණයක් සහිත උඳුනකි. මැටි භාණ්ඩ පිළිස්සීමට උඳුන් භාවිත කිරීමේ දී ග්‍රාමීය මැටි ශිල්පීන්ගේ වැඩි අවධානය යොමුව ඇත්තේ,
(1) ඉක්මනින් පිළිස්සෙන ඇඩි තාපයක් ලබා දෙන ආවරක පෝරණු වෙත ය.
(2) භාණ්ඩ ඇසිරීමක් නැති කරකැවෙමින් යන හොඳින් පිළිස්සෙන රෝලර් පෝරණු වෙත ය.
(3) නවීන තාක්ෂණය භාවිතයෙන් පීලි මත ගමන් කරන දෝනා පෝරණු වෙත ය.
(4) වියදම් අඩු, නඩත්තුව පහසු එහෙත් වැඩි කාලයක් ගත වන දේශීය පෝරණු වෙත ය.

* *

[හයවැනි පිටුව බලන්න.

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

84 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Exami-

ශිල්ප කලා I, II
நுண்கலை I, II
Arts and Crafts I, II

## ශිල්ප කලා II

* **පළමුවැනි** ප්‍රශ්නය ද තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ද ඇතුළු ව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

**1.** ජාතීන් අතර සංහිඳියාව ගොඩනැගීමේ අරමුණ පෙරදැරිව සිංහල, දෙමළ සහ මුස්ලිම් පාසල් සහභාගි වන සංස්කෘතික උළෙලක් පැවැත්වීමට අධ්‍යාපන අමාත්‍යාංශය තීරණය කර ඇත.

(i) මෙම සංස්කෘතික උළෙල පිළිබඳ මහජනතාව දැනුවත් කිරීමට පෝස්ටරයක් නිර්මාණය කරන්න.

(ii) සංස්කෘතික උළෙල සඳහා ආරාධිතයින් වෙත යැවෙන ආරාධනා පත්‍රය සකස් කරන්න.

(iii) සංවිධායක කමිටුවට පැළඳීමට සුදුසු නිල ලාංඡනයක් සැලසුම් කරන්න.

(iv) පාසල්වල අනන්‍යතාව දැක්වීම සඳහා පාසල් නිල ලාංඡන ඇතුළත් කොඩි අවශ්‍යව ඇත. කොඩි මුද්‍රණය කිරීමට සුදුසු ක්‍රම **දෙකක්** නම් කරන්න.

(v) දමිළ සිසුන් ඉදිරිපත් කරන කළගෙඩි නැටුමේ කළගෙඩි විචිත්‍රවත් කළ හැකි මැටි භාණ්ඩ අලංකරණ ක්‍රම **දෙකක්** දක්වන්න.

(vi) සංස්කෘතික උළෙලේ වේදිකාවේ පසුබිම සරසනු ලබන්නේ ගොක් කොළවලිනි. එහි ජටා වියමනක් යෙදීමට අපේක්ෂිත ය. ජටා වියමනේ ඒකක **දෙකක්** ඇඳ දක්වන්න.

(vii) සාමයේ සංකේතය ලෙස සැලකෙන පරවියෙකුගේ විශාල ප්‍රමාණයේ මූර්තියක් වේදිකාවට මුහුණලා ඉදිකිරීමට බලාපොරොත්තු වේ. පරෙවියා නිර්මාණය කිරීමට සුදුසු මාධ්‍ය **දෙකක්** නම් කරන්න.

(viii) ජයග්‍රාහකයින්ට ප්‍රදානය කිරීමට සුදුසු, තේමාවට අදාළ ජය සංකේතයක් නිර්මාණය කරන්න.

(ix) ආරාධිතයින්ට සංග්‍රහ කිරීමට සූදානම් කරන කේක් සඳහා වූ ඇසුරුම සෘජුකෝණාස්‍රාකාර පැති සහිත පෙට්ටියකි. එහි විකසනය ඇඳ දක්වන්න.

(x) සංස්කෘතික උළෙලේ පැවැත්වෙන පොත් ප්‍රදර්ශනයේ සෑම පොතකට ම 10%ක වට්ටමක් ලැබේ. රු. 350 කට මිල නියම කර ඇති පොතක් මිලදී ගැනීමට වැය කළ යුතු මුදල කීය ද?

**2.** නිෂ්පාදකයින් විසින් විවිධ ක්‍රමශිල්ප හා විවිධ මාධ්‍ය භාවිතයෙන් භාණ්ඩ නිපදවා වෙළෙඳපොළට ඉදිරිපත් කෙරේ.

(i) සැහැල්ලු සෙල්ලම් භාණ්ඩ තැනීමට භාවිත කරන රෙදි වර්ග **දෙකක්** නම් කරන්න.

(ii) නූල්වල මූලික ඒකකය වන කෙඳි ලබාගන්නා ප්‍රධාන ක්‍රම චාට් සටහනකින් දක්වන්න.

(iii) රිබන් නිර්මාණ සඳහා යොදා ගන්නා මැහුම් ක්‍රම **දෙකක්** නම් කර, එම මැහුම් ක්‍රම ඇසුරෙන් බිත්ති සැරසිල්ලකට සුදුසු මෝස්තරයක් චිත්‍රණය කරන්න.

**3.** විවිධ අලංකාර රටා භාවිත කර රෙදි නිෂ්පාදනය කරනු ලැබේ.

(i) රෙදි විවීම සඳහා භාවිත කෙරෙන යන්ත්‍ර වර්ග **දෙකක්** නම් කරන්න.

(ii) විවීමේ යන්ත්‍රයක කොටස් **හතරක්** නම් කරන්න.

(iii) ඉහත (ii) හි නම් කරන ලද එක් එක් කොටසින් කෙරෙන කාර්ය කෙටියෙන් පැහැදිලි කරන්න.

[හත්වැනි පිටුව බලන්න.

**4.** අත්යන්ත්‍රයක ආධාරයෙන් තුවා රෙදි වියීම සඳහා සකස් කළ නූල් හැදයක දළ රූප සටහන සහ තොරතුරු පහත දැක්වේ.




※ හැදයේ දිග මීටර 100 කි.

※ හැදයේ පළල සෙන්ටිමීටර 20 කි.

※ එක් සෙන්ටිමීටරයක දික් නූල් පොටවල් ගණන 60 කි.

※ නූලේ නොම්මරය $2/40^s$ කි.

※ නූලේ වර්ණය ලා කහපාට ය.

(i) තුවා වියීමට සුදුසු වියමන් රටා **දෙකක්** නම් කරන්න.

(ii) හීරි වියමනක ඒකක **දෙකක්** ඇඳ දක්වන්න.

(iii) හැදය වියීමට අවශ්‍ය $2/40^s$ ලා කහපාට නූල් ප්‍රමාණය ගණනය කරන්න.

**5.** පාරිභෝගිකයා රෙදිපිළි මිල දී ගැනීමේ දී සැලකිලිමත් වන්නේ වර්ණය සහ අලංකරණ රටා පිළිබඳව ය.

(i) අච්චු මුද්‍රණ ක්‍රමයෙන් රෙදිපිළි අලංකාර කරගැනීමේ දී අච්චුව මත සායම් ආලේපනය කළ හැකි ක්‍රම **දෙකක්** දක්වන්න.

(ii) සේද රාමු මුද්‍රණයේ දී මෝස්තර තිරය මතට ගැනීමට භාවිත කරන ක්‍රමවේද **දෙකක්** ඉදිරිපත් කරන්න.

(iii) සිදුරු තහඩු මුද්‍රණයෙන් කොට්ට උරයක් මුද්‍රණය කිරීම සඳහා සුදුසු මෝස්තරයක් ඇඳ එහි වර්ණ ගැන්වෙන කොටස් සේයා කර දක්වන්න.

**6.** අච්චු මගින් මැටි භාණ්ඩ ප්‍රතිනිර්මාණය කිරීම මැටි භාණ්ඩ නිෂ්පාදනයේ එක් ක්‍රමවේදයකි.

(i) මැටි භාණ්ඩ ප්‍රතිනිර්මාණයට අවශ්‍ය අච්චු සෑදීම සඳහා භාවිත කරන මාධ්‍ය **දෙකක්** දක්වන්න.

(ii) සංකීර්ණ අච්චු ලෙස දැක්වෙන්නේ කුමක් දැයි විස්තර කර, සංකීර්ණ අච්චුවලට උදාහරණ **දෙකක්** දෙන්න.

(iii) ආදර්ශ රූපය ලෙස හබරල කොළයක් භාවිත කරමින්, එක් පලුවක අච්චුවක් නිර්මාණය කරන ආකාරය අනුපිළිවෙළින් දක්වන්න.

**7.** උද්‍යාන අලංකරණය සඳහා මූර්ති භාවිත කිරීම වර්තමානයේ ජනප්‍රියව ඇත.

(i) උද්‍යාන මූර්ති නිර්මාණය සඳහා භාවිත කරන මාධ්‍ය **දෙකක්** නම් කරන්න.

(ii) උද්‍යාන අලංකරණය සඳහා අවධානය යොමු කළ යුතු උද්‍යාන විද්‍යා මූලධර්ම **දෙකක්** නම් කර, එයින් එක් මූලධර්මයක් පිළිබඳ විස්තර කරන්න.

(iii) ප්ලාස්ටර් ඔෆ් පැරිස් මාධ්‍යයෙන් උද්‍යාන අලංකරණ නිර්මාණයක් සකස් කර ගන්නා ආකාරය අනුපිළිවෙළින් පැහැදිලි කරන්න.

※※※